099072

OL/2017/43/STE-I (NEW)



නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

43 I

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2017 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2017 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2017

චිත්‍ර I / சித்திரம் I / Art I



099171

OL/2017/43-S-I (NEW)



නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

43 S I

| පත්‍රය | ලකුණු |
|---|---|
| I | |
| II | |
| III | |
| එකතුව | |
| පරීක්ෂක 1 | |
| පරීක්ෂක 2 | |
| ගණිත පරීක්ෂක | |

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2017 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2017 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2017

චිත්‍ර I
சித்திரம் I
Art I

පැය එකයි
ஒரு மணித்தியாலம்
One hour

* සියලු ම ප්‍රශ්නවලට මෙම ප්‍රශ්න පත්‍රයේ ම පිළිතුරු සපයන්න.

විභාග අංකය : ..........................................

● පහත සඳහන් ඡායාරූපය ඇසුරු කරගෙන අංක 1 සිට 5 තෙක් ප්‍රශ්නවල හිස්තැන් පුරවන්න.



1. මෙම වාස්තු විද්‍යා නිර්මාණය .......................................................................... යුගයේ නිම වූවකි.

2. මෙය .......................................................................... නමින් හැඳින්වේ.

3. මෙය කරවන ලද්දේ .................................................... රජ දවස ය.

4. මෙහි කුලුනු නිර්මාණය සඳහා .......................................................................... ස්වරූපය ආදර්ශ කොට ගෙන ඇත.

5. මෙය .......................................................................... සඳහා යොදා ගෙන ඇත.

/දෙවැනි පිටුව බලන්න.

- අංක **6** සිට **10** තෙක් දී ඇති ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.

**6.** ස්තූපයක් වටා ඒක කේන්ද්‍රීයව පිහිටා ඇති ගල් කණුවලින් එහි කුමන ගොඩනැගිල්ලක් තිබූ බව හැඟේ ද?

.....................................................................................................................

**7.** සුප්‍රසිද්ධ කාටූන් චරිතයක් වන 'අප්පුහාමි' කිනම් ශිල්පියකුගේ නිර්මාණයක් ද?

.....................................................................................................................

**8.** ඉස්ලාමීය කලා නිර්මාණ අතර අක්ෂර භාවිතයෙන් කරනු ලබන සැරසිලි කිනම් නමකින් හැඳින්වේ ද?

.....................................................................................................................

**9.** 'අන්තිම විනිශ්චය' පිළිබඳ පුවත සිතුවමට නැගූ ඉතාලි ජාතික චිත්‍ර ශිල්පියා කවුරුන් ද?

.....................................................................................................................

**10.** ග්‍රීක සම්භාව්‍ය මූර්තිවල දක්නට ලැබෙන තාත්ත්වික ලක්ෂණ පිළිබිඹු වන ඉන්දු නිම්නයෙන් හමු වූ මූර්තිය කුමක් ද?

.....................................................................................................................

- අංක **11** සිට **15** තෙක් දී ඇති එක් එක් ප්‍රශ්නයට වඩාත් නිවැරදි පිළිතුර තෝරා, ඊට යටින් ඉරක් අඳින්න.

**11.** ගම්පොල යුගයට අයත් ගඩලාදෙණි විහාරය,
(1) ද්‍රවිඩ වාස්තු විද්‍යා ලක්ෂණ අනුව ඉදිකරන ලද බෞද්ධ විහාරයකි.
(2) හින්දු කෝවිලක් ව තිබී පසුව විහාරයකට පරිවර්තනය කරන ලද්දකි.
(3) හින්දු භක්තික ද්‍රවිඩ ශිල්පීන් විසින් ඉදිකරන ලද්දකි.
(4) කළුගල් භාවිතයෙන් ඉදිකරන ලද විහාරයකි.

**12.** ධර්ම දේශනා කරන ස්වරූපයෙන් නෙළන ලද අනුරාධපුරයේ හමුවන බුදු පිළිමය වනුයේ,
(1) සමාධි බුදු පිළිමයයි. (2) පන්කුලිය බුදු පිළිමයයි.
(3) තොලුවිල බුදු පිළිමයයි. (4) අවුකන බුදු පිළිමයයි.

**13.** පොළොන්නරුවෙන් හමු වූ නටරාජ හින්දු දේව මූර්තියෙන්,
(1) රංගනයේ යෙදෙන දෙවියකු නිරූපණය කෙරෙයි.
(2) ශිව දෙවියන්ගේ බලය හා ශක්තිය නිරූපණය කෙරෙයි.
(3) භක්තිකයන් කෙරෙහි දෙවියන් දක්වන දයාව සිහිපත් කෙරෙයි.
(4) ශිව දෙවියන්ගේ තාණ්ඩව නර්තන විලාසය පිළිබිඹු කෙරෙයි.

**14.** 'දුෂ්කර ක්‍රියාව' නම් වූ ඉන්දීය ගාන්ධාර මූර්තිය,
(1) තාත්ත්වික ස්වරූපයෙන් නෙළන ලද බුදු පිළිමයකි.
(2) බෝසතුන්ගේ වෑහැරී ගිය සිරුර හා දැඩි අධිෂ්ඨානය නිරූපණය කරන්නකි.
(3) කෘශ වූ තාපසයකු නෙළීමේ ශිල්පීය වෑයමකි.
(4) ගාන්ධාරයේ නෙළන ලද ස්වාභාවික බුදු පිළිම අතර ශ්‍රේෂ්ඨ නිර්මාණයකි.

**15.** පිකාසෝගේ 'අවිග්නොන්හි යුවතියෝ' සිතුවමින් ප්‍රකාශ කෙරෙනුයේ,
(1) කාන්තාවන් පස්දෙනකු පිළිබඳ ජීවන තොරතුරු ය.
(2) බාසිලෝනා නගරයේ සුන්දර කාන්තාවන් ගැන ය.
(3) සුරූපී කාන්තාවන් අතර සිටින විරූපී කාන්තාවන් ය.
(4) අභිසාරිකාවන්ගේ බාහිර ස්වරූපය හා අභ්‍යන්තර ඛේදවාචකය ය.

- අංක **16** සිට **20** තෙක් දී ඇති වචනවල අර්ථය පැහැදිලි වන සේ සම්පූර්ණ වාක්‍යය බැගින් ලියන්න.

**16.** වීරාසන : .....................................................................................

**17.** මස්ජිදය : .....................................................................................

**18.** මේධි : .....................................................................................

**19.** ලාක්ෂා : .....................................................................................

**20.** අල්ප උන්නත : .....................................................................................

/තුන්වැනි පිටුව බලන්න.

- අංක **21** සිට **25** තෙක් දී ඇති රූපසටහන් කොටස්වලට සමීප සබඳතාවක් දක්වන රූපසටහන, ඉදිරියෙන් ඇති **A, B, C, D, E** යන ඒවා අතුරෙන් තෝරා, එහි අක්ෂරය **තිත් ඉර මත** ලියන්න.

**21.**  (.........)  A

**22.**  (.........)  B

**23.**  (.........)  C

**24.**  (.........)  D

**25.**  (.........)  E

- අංක **26** සිට **30** තෙක් දී ඇති එක් එක් වාක්‍යයෙහි හිස්තැනට සුදුසු වචනය/වචන යොදා සම්පූර්ණ කරන්න.

**26.** දියසායම් මාධ්‍යය භාවිත කරමින් නිමවා ඇති 'උළු පෝරණුව' නම් චිත්‍රය ............................ ශිල්පියාගේ විශිෂ්ට නිර්මාණයකි.

**27.** එඩ්වඩ් පේන්ටර් ශිල්පියා විසින් ක්‍රිස්තු චරිතය තේමා කර ගනිමින් ............................ දේවස්ථානය තුළ සිතුවම් රැසක් නිර්මාණය කර ඇත.

**28.** අජන්තාවේ සිතුවම් ෆ්‍රෙස්කෝ සිකෝ (ටෙම්පෙරා) ක්‍රමයට ඇඳ ඇති බව පිළිගැනෙනුයේ ඒවා ............................ මත ඇඳ ඇති නිසා ය.

**29.** මයිරන් සහ ප්‍රැක්සිටැලස් ග්‍රීසියේ ............................ යුගයේ විසූ සමකාලීන ශිල්පීන් ය.

**30.** දැව මාධ්‍යයෙන් නිම කරන ලද ඇම්බැක්ක දේවාලය ............................ සහ ඔහුගේ ගෝලයින් විසින් නිර්මාණය කරන ලද්දකි.

- අංක **31** සිට **35** තෙක් දී ඇති ප්‍රශ්නවලට **F, G, H, I, J** යන රූපසටහන් ඇසුරෙන් පිළිතුරු සපයන්න.



F



G



H



I



J

**31.** **F** අක්ෂරයෙන් දැක්වෙන ඒ. මාර්ක් ශිල්පියාගේ නිර්මාණයක් වන සිතුවම හැඳින්වෙනුයේ කිනම් නමකින් ද?

..........................................................................

**32.** **G** අක්ෂරයෙන් දැක්වෙන ශිව භක්තික ශාන්තුවරයා කවරෙක් ද?

..........................................................................

**33.** **H** අක්ෂරයෙන් දැක්වෙන පිළිමය කෙරෙහි ලැබී ඇති ඉන්දීය කලා ආභාසය කුමක් ද?

..........................................................................

**34.** **I** අක්ෂරයෙන් දැක්වෙන සිංහ රුව කුමන ඉන්දීය කලා නිර්මාණයක් හා සම්බන්ධ ද?

..........................................................................

**35.** **J** අක්ෂරයෙන් දැක්වෙන, ස්වාභාවික ලක්ෂණ නිරූපිත මෙම පිළිරුව මිසරයේ කුමන පාලන සමයකට අයත් ද?

..........................................................................

- ඔබ වෙත සපයා ඇති වර්ණ චිත්‍රය හඳුනාගෙන එහි කලාත්මක අගය විග්‍රහ කෙරෙන පරිදි අංක **36** සිට **40** තෙක් දී ඇති උපමාතෘකාවලට අදාළ ව අර්ථවත් වාක්‍ය පහක් ලියන්න.

**36.** ප්‍රවාහය හා ශිල්පියා : ..........................................................................

..........................................................................

**37.** තේමාව : ..........................................................................

..........................................................................

**38.** රේඛා හා වර්ණ භාවිතය : ..........................................................................

..........................................................................

**39.** සංරචනය : ..........................................................................

..........................................................................

**40.** භාව ප්‍රකාශනය : ..........................................................................

..........................................................................

* * *